# යහපත් ගිහි ජීවිතයක් සඳහා

(iskoola pota font එකේ දෝෂයක් නිසා 'ර්' අකුර සෑම විටම පසුපසින් ඇති අකුරේ පිටුපසට ගොස් ඇති බව කරුණාවෙන් සළකන්න)

බුදුදහම පිළිබඳව පළව ඇති පොත් වලින් ඉතා ස්වල්පයක් කියවූ සමහර උගතුන් ඒ පැවිද්දන් සඳහාම අදහස් කරන ලද දහමෙකැයි පවසා ඇත. තවත් සමහරුන් එය සවර් අශුභවාදී ආගමක් යැයි පෙන්වන්නට තැත් කර ඇත. තවත් කෙනෙක් දියුණුවට සතුරු වූ ඉගැන්වීමකැයි එය බාල්දුකොට පෙන්වීමේ ඕනෑකමින්ම කියා ඇත.

එහෙත් අගතියෙන් තොරව පුලුල් ලෙස කරුණු සලකා බැලූ උගත්තු එහි ශ්‍රේෂ්ඨත්වයත්, ජීවිතයේ සෑම අවස්ථාවකම එය ප්‍රායෝගිකව උපස්ථම්භක වන ධමර්යක් ලෙසත් අවංකවත් ප්‍රකටවත් පවසා ඇත. දික්සඟියේ ඉංගිරිසි පරිවතර්නයට පූවර්කාවක් ලියූ රිස් ඩේවිඩ් මැතිණිය එහි මෙසේ සඳහන් කර ඇත. 'මේ ගිහි විනය නම් වේ. එහි දක්වා ඇති පරිදි පිළිපදින තැනැත්තාට ඔහුගේ ජීවිත දියුණුව ද නොපිරිහීම ද බලාපොරොත්තු විය යුතු බව සඳහන්ව ඇත. අදත් මේ ගිහියන්ගේ විනය හැටියට ප්‍රයෝජනවත් වන බව අපි කියමු. ඒ තරමට ම එයින් දැක්වෙන ධමර්ය නුවණට හුරු වූ ද, පුළුල් වූ ද, අද දවසටත් ඵලදායි වූ ද එකක්ය. එදා ඒ දෙසු පෙදෙස වන රජගහ නුවරට සේම අදත් හැම තැනටම එය ප්‍රයෝජනවත් වෙයි. ගංගා නම් නදීතීර ප්‍රදේශයේ ගම්වලටද නොහොත් ඒ ප්‍රදේශයේ වැසියන්ටද ගම්වාසීන්ද ප්‍රදේශවාසීන්ද ඔවුනොවුන් සහෝදර ප්‍රේමයෙන් දැහැමි බැවින් යුක්තව සිටියාට කිසිදු සැකයක් නැත. මෙය අද තේම්ස් නදිය අද්දර වසන ජනතාවටද ලැබුණා නම් ඔවුන් අද මෙන් නොව ඊට වඩා සැපවත් ජීවිත ගතකරන්නට ඔවුනට තිබුණි.' (මේ රිස් ඩේවිඩ් මැතිනියගේ ප්‍රකාශයේ සාමාන්‍ය අදහසයි).

මේ ලෝකය පාසලක් බඳුය. පාසලක බාලාංශය පටන් ඉහල පන්ති දක්වා පන්තියට අනුව ඉගැන්වෙන පිළිවෙළක් ඇත්තාක් මෙන් ලෝකයෙහි ඒ ඒ මට්ටමට අනුව පිළිවෙත් පිරීම ඉගැන්විය යුතුය. පාසලක පහළම පංතියේ ළමයින්ට චිත්‍ර ආදිය මගින් මූලික ඉගැන්වීම දෙනු ලැබේ. ඉහළම පංතියේ අයට උසස් ගණිතය, විද්‍යාව ආදිය වැනි විෂයයෝ උගන්වනු ලැබේත්. ඒ අතර පන්ති වලට පිළිවෙලින් ඒවාට ගැලපෙන පරිදි විෂයයෝ ඉගැන්වෙත්. ලෝකය නොයෙක් පංතිවලින් යුත් පාසලක් සේ බුදුරජාණන් වහන්සේ දුටු සේක. පන්තියට ගැලපෙන පරිදි හෙවත් ඒ ඒ මනුෂ්‍යයන්ගේ චාරිතානුකූලව සිත් දියුණු වූ මට්ටම අනුව ඔවුනට දහම් දෙසූ සේක.

එක් දවසක් දුප්පත් බමුණෙක් බුදුරජුන් වෙත ආයේය. 'ගෞතමයන් වහන්ස, මම දුප්පතෙක්මි. රැකියාවක් සොයාගෙන ධනය හම්බකරගෙන ඊමට ඈතකට යමි. මගේ රැකියාව සාථර්ක වීමට ඔබ වහන්සේගෙන් උපදෙසක් ලැබුණොත් මැනැවැ'යි කීයේය. බුදුරජාණන් වහන්සේ 'මැනවැ'යි වදාරා ඔහු කරන්න යන රැකියාව සාථර්ක වන ලෙසට උපදෙසක් දුන්හ. ටික කලක් ගතවන විට ඒ බමුණා පොහොසත් වී සිය ගමට ආවේය.

තවත් වරෙක බුදුරජාණන් වහන්සේ සැරිසරා වඩනා සේක්, වේළුද්වාර නම් ගමට වැඩි සේක. ගම් වැස්සෝ උන්වහන්සේ වෙත පැමිණ, 'ස්වාමීන් වහන්ස, අපි නොයෙක් රැකියාවල යෙදී දරු පවුල් රකින්නෝ වෙමු. අපට නොයෙක් වගකීම් ඇත. උසස් ප්‍රතිපත්ති පිරීමට අපට කාලයක් නැත. අපට මෙලොව සාමයෙන් සැපසේ ජීවත් වීමටත්, පරලොව සුගති සැප ලැබීමටත් මාගර්ය පෙන්වන්නැ'යි කීහ. ඔවුන්ගේ අදහස දුටු බුදුරජාණන් වහන්සේ ඔවුන්ගේ බලාපොරොත්තුව සරිලන සේ දහම් දෙසූහ.

බුදුරජාණන් වහන්සේ 'පඤ්චිමේ භික්ඛවේ, ආනිසංසා' යන ආදී ලෙස වස්තු සම්පත්හි ආනිසංස පහක් වදාළ සේක. ධනවතා තමාට ධනය ඇති බැවින් සැපවත් වූ දීඝර්ායුෂ්ක ජීවිතයක් ගත කරන්නට සමත් වෙයි. මේ ධන සම්පත්තියේ පළමු අනුහසයි. ධනය ඇති තැනැත්තාහු විසින් තම මව්පියන් වයස්ගතව දුවර්ල වූ විට රෝගාතුර වීම් ආදියෙන් දුවර්ල වූ විට ඔවුන්ට අවශ්‍ය දෑ සපයමින් ඔවුන් හොඳට රැකබලා ගත හැකි වෙයි. ධනවත් වූ තැනැත්තා හෝ තැනැත්තිය විසින් තමන්ගේ සහකාරයාට හෝ සහකාරියට ද, දූ දරුවන්ට ද අවශ්‍ය දෑ සපයා දෙමින් සැපසේ ජීවත් කරවිය හැකිය. මේ ධනවත් බව්හි තුන්වන අනුහසයි. ධනවතා විසින් තමන්ගේ නෑදෑ හිතමිතුරන්ට ද දුගී මගී යාචකාදීන්ට ද හොඳින් සංග්‍රහ කළ හැකි වෙයි. මේ ධනවත් බවේ හතරවන අනුහසයි. ධනවතා විසින් ගිහි ගෙය හැර පැවිදි වී උසස් ගුණ දහම් වඩන පැවිද්දනට, මහණ බමුණන්ට පරලොව පින්තකා හොඳින් සංග්‍රහ කළ හැකි වෙයි. මෙසේ බුදුරජාණන් වහන්සේ භෝග සම්පත්තියෙහි හෙවත් ධනවත් බවෙහි අනුසස් පහක් වදාළ සේක.

මංගල සූත්‍ර දේශනාවෙහි මංගල කරුණු තිස් අටක් හෙවත් මෙලොව පරලොව දෙක්හි දියුණුවට උපකාර වෙන කරුණු තිස් අටක් වදාළ සේක. එහි 'මාතා පිතු උපට්ඨානං' යන්නෙන් මවුපියනට උපස්ථාන කිරීම දෙලොව දියුණුවට හේතුවක් බව වදාළ සේක. ඊළඟට 'පුත්තදාරස්ස සංගහෝ' යනුවෙන් අඹු දරුවන් රැක ගැන්ම දෙලොව

දියුණුවට උපකාර වන මංගලයක් හැටියට වදාළ සේක. ඊළඟට 'ඤාතකානඤ්ච සංගහෝ' යන්නෙන් නෑ මිතුරන්ට සංග්‍රහ කිරීමද දෙලොව දියුණුවට උපකාරී දෙයක් හැටියට වදාළ සේක. නොයෙක් තැන්හිදී බුදුරජාණන් වහන්සේ 'උභයත්ථ පටිපදා' යන්නෙන් තමන්-අනුන් යන දෙපක්ෂයේම අභිවෘද්ධිය පිණිස ක්‍රියාකරන සැටි වදාළ සේක.

සමහර ආගම්වල පොහොසතුන් විසින් ස්වගර්යට යෑම දුෂ්කර ක්‍රියාවක් හැටියට දක්වා ඇත. එහෙත් බුදුරජාණන් වහන්සේ ධනවත් මිනිසකුට ස්වගර්යට යෑමට ඔහු නිසි පරිද්දෙන් වස්තුව පරිහරණය කළොත්, තමන්ගේ යුතුකම් නිසි පරිද්දෙන් ඉටු කළොත් ස්වගර්යට යෑම දුෂ්කර නොවන බව වදාළ සේක. ධනවත් බව නොව ස්වගර් ගමනට බාධක වන්නේ මසුරුකම ආදී වැරදි ගති ගුණයි. 'න වේ කදරියා දේව ලෝකං වජන්ති' – 'ඒකාන්තයෙන් මසුරෝ දෙව්ලොව නොයත්' යනු බුද්ධ වචනයයි. මෙය සංයුත් සඟියෙහි දේවතා සංයුත්තයෙහි දැක්වෙයි. ත්‍යාගවත් ධනවතාට ප්‍රශංසා කරමින් භාග්‍යවතුන් වහන්සේ 'දත්වා ච භුත්වා ච යථානුභාවං අනින්දිතො සග්ගමුපේති ඨානං' – 'ධනවතා ශක්තිය පරිද්දෙන් අනුනට හොඳට දී, තමනුත් හොඳට කා බී සැප විඳ මෙලොවදී නින්දාවකුත් නොලබා මරණින් පසු ස්වගර්යට යන බව' වදාරා තිබේ.

මීළඟට නැගෙන ප්‍රශ්නය: 'ධනය සැපයිය යුත්තේ කෙසේද? ඒ ගැන භාග්‍යවතුන් වහන්සේ කුමක් වදාරා ඇත්ද?' යන්නයි. උජ්ජය සූත්‍රය, ව්‍යග්ඝපජ්ජ සූත්‍රය, සිගාලෝවාද සූත්‍රය යන ආදියෙහි මේ කරුණු විස්තරව දක්වා ඇත. එක් දවසක් කෝළිය වංශික ව්‍යග්ඝපජ්ජ නම් ක්ෂත්‍රියා දෙලොව දියුණුව ලබන මග විචාල විට බුදුරජාණන් වහන්සේ එය මෙසේ වදාළ සේක. මෙලොව රැකියාවෙන් දියුණුව ලැබීම පිණිස හෙවත් වස්තුව ඉපැයීමත්, දියුණු කර ගැනීමත් පිණිස කෙනෙකු කරුණු හතරකින් සමන්විත විය යුතු යැයි වදාරා 'උට්ඨාන සම්පදා', 'ආරක්ඛ සම්පදා', 'කල්‍යාණ මිත්තතා', 'සමජීවිකතා' යන මේ කරුණු හතර ධන සම්පතින් දියුණුවීමට හේතු වේ යැයි වදාළ සේක. එහි 'උට්ඨාන සම්පදා' නම් ධනය ඉපයීමෙහි උත්සාහවත් වීමය. අව්වට සීතට යන්තම් වැසි පොදට බිය නොවී, කාලගුණයට බිය නොවී ඊට ලංව ඉන්නට පුරුදු විය යුතුය. නොයෙක් බාධා ඉදිරිපත් වුවත් ඒවා මැඩගෙන උත්සාහවත්ව ඉදිරියට යා යුතුය. නැවත නැවත උත්සාහවත් විය යුතුය. එබන්දා උත්සාහ බලයෙන් ජයග්‍රහණය කරයි. මේ හැම මොහොතේදීම හොඳ සිහියෙන් යුක්තව දුරදිග බලා පරීක්ෂාකාරීව ක්‍රියාකළ යුතු බව බුදුරජාණන් වහන්සේගේ අවවාදයයි. එය 'ආරක්ඛ සම්පදා'වයි. තමා සපයන ධනය නිකරුණේ වියදම් නොකරන්නට පරීක්ෂාකාරී වීමයි. ධන විනාශක මාගර් බොහෝය. ඒවාට නොහසු විය යුතුය. සූදුව, සල්ලාල බව, මත් පැනට ඇබ්බැහි වීම යන ආදියට වැටුණොත් ඔහුගේ ධනය ඉක්මනට නාස්ති වෙයි. එබැවින් එබන්දකට නොහසුවන්නට එළඹ සිටි සිහියෙන් සිටිය යුතුය.

ධනය උපයන්නා තුළ ඇතිවිය යුතු තුන්වන අංගය 'කල්‍යාණ මිත්තතා' යන්නෙන් දැක්වෙන පරිදි යහපත් මිතුරන් හෙවත් තමාට දැනුමැතිකම් දෙන හිතවතුන් ඇසුරු කළ යුතු බවය. එවැන්නන්ගේ ඇසුර ඇතිව ධනය උපයන්නට අදහස් කළ යුතු වෙයි. එබඳු කළණ මිතුරෙකු සොයාගත නොහැකිනම් 'නෝචේ ලභේථ නිපකං සහායං - සද්ධිං චරං සාදු විහාරි ධීරං' යන ආදීන් වදාළ පරිදි යහපත් මිතුරෙකු ලබාගත නොහැකිනම් හුදකලාව වසන කඟවේනා මෙන් තනිව තමාම තමාගේ දියුණුව පිණිස ක්‍රියා කළ යුතුය.

ධනය හම්බ කරන්නහු විසින් ඇතිකරගත යුතු හතරවන ගුණාංගය නම් සමජීවිකතාවයි. කොටින් කියතොත් කෝටිපතියන් මෙන් තමන්ට ලැබෙන පමණ ඉක්ම අධික ධන වියදම් නොකර හම්බකරන පමණට අනුව කෑම බීම් ඇඳුම් පැළඳුම් සඳහා වාම් ලෙස වියහියදම් කිරීමයි. හම්බ කරන ප්‍රමාණයට වඩා අධිකව වියදම් කරන්න පටන් ගතහොත් වැඩි කල් නොගොස් හෙතෙම දිළිඳු බවට වැටෙයි.

තවත් වතාවක බුදුරජාණන් වහන්සේ සච්චන් අමතා වෙළඳාම් වැනි රැකියාවක් කරන තැනැත්තා උත්සාහවත් විය යුතු බව ද, දහවල් කාලයේ නිදා ගැනීම් ආදියෙන් අලස බව ඇති කර නොගත යුතු බව ද, ගනුදෙනුකාරයන් බලාපොරොත්තු විය යුතු බැවින් නින්දට යෑමත් රාත්‍රී බොහෝ ප්‍රමාද වී කළ යුත්තක් බව ද වදාළ සේක. සමහර කෙනෙක් ස්වල්ප ධනයකින් තෘප්තිමත් වෙති. එහෙත් කවරෙක් හෝ වස්තුවෙන් ලොකු මෙහෙයක් කරන්න බලාපොරොත්තු වන්නේ නම් ඔහු විසින් උත්සාහවන්තව හුඟාක් ධනය හම්බ කළ යුතුය. වරක් භාග්‍යවතුන් වහන්සේ පාඨලී ගමට වැඩි සේක. එහිදී උන්වහන්සේ තමන් වෙතට පැමිණ රැස් වූ උපාසකවරුන්ට අවවාද කරමින් ශීලයෙහි ආනිසංස වදාරන සේක්, සිල්වතා ධන විනාශක මාගර්යකට නොබසින බැවින් ධනයෙන් ආඪ්‍යය වන නියාම වදාළ සේක. මෙතැනදි කෙනෙකු විසින් දිළිඳු බව පෙර අත් බවෙක කළ අකුසලයක විපාක නොවේදැයි ඇසිය හැකිය. නුවණින් යුතුව උත්සාහ කිරීමෙන් ඒ කමර් විපාක ධනවත් වීම කළ හැක්කකි.

'අත්ථේකච්චානි පාපකම්මානි පයෝගසම්පත්ති පටිභාල්හානි' යන්නෙන් මෙලොවදී ගන්නා ක්‍රියාමාගර්ය මගින් සමහරක් අකුසල කමර්යන්ගේ විපාක මැඩ පැවැත්විය හැකි බව ධමර්යේ දක්වා තිබේ. එබැවින් උත්සාහ කිරීමෙන්

දිළිඳු බව මැඩ පැවැත්විය හැකිය. ධන සම්පත්ති ආදිය පිළිබඳව බුදුරජාණන් වහන්සේ කුමක් වදාරා තිබේදැයි තවදුරටත් විමසා බලමු. ‘දස ඉමේ භික්ඛවේ, ධම්මා ඉට්ඨා කන්තා මනාපා දුල්ලභා ලෝකස්මිං. කතමේ දස? භෝගා ඉට්ඨා කන්තා මනාපා දුල්ලභා ලෝකස්මිං. වණ්ණෝ ඉට්ඨෝ කන්තෝ මනාපො දුල්ලභෝ ලෝකස්මිං. ආරෝග්‍යං ඉට්ඨං කන්තං මනාපං දුල්ලභං ලෝකස්මිං. සීලං ඉට්ඨං කන්තං මනාපං දුල්ලභං ලෝකස්මිං. බ්‍රහ්මචරියං ඉට්ඨං කන්තං මනාපං දුල්ලභං ලෝකස්මිං. මිත්තා ඉට්ඨා කන්තා මනාපා දුල්ලභා ලෝකස්මිං. බාහුසච්චං ඉට්ඨං කන්තං මනාපං දුල්ලභං ලෝකස්මිං. පඤ්ඤා ඉට්ඨා කන්තා මනාපා දුල්ලභා ලෝකස්මිං. ධම්මා ඉට්ඨා කන්තා මනාපා දුල්ලභා ලෝකස්මිං. සග්ගා ඉට්ඨා කන්තා මනාපා දුල්ලභා ලෝකස්මිං.’ (අංගුත්තර නිකාය - දසක නිපාතය)

මෙහි තේරුම: මහණෙනි, තමා කැමති මනාප දුලර්භ කරුණු දසයකි. ඒ දසය කවරේ ද? ධනය තමා කැමති වූ මනාප වූ දුලර්භ වූ දෙයකි. රූප සම්පත්තිය, සෞඛ්‍ය, සිල්වත් බව, බඹසර රැක්ම, සැබෑ මිතුරෙක් ඇති බව, උගත්කම, ප්‍රඥාව, සත්‍ය ධමර්ය, සුගතියක ඉපැත්ම යන මේ හැම කාටත් ප්‍රියයි මනාපයි ලබන්නට කැමතියි, එහෙත් මේවා ලබන්නට අමාරුයි.

‘ඉමේසං භික්ඛවේ, දසන්නං ධම්මානං දසධම්මා පරිපන්ථා. ආලස්සං අනුට්ඨානං භෝගානං පරිපන්ථෝ. අමණ්ඩනා අභූසණා වණ්ණස්ස පරිපන්ථෝ. අසප්පායකිරියා ආරෝග්‍යස්ස පරිපන්ථෝ. පාපමිත්තතා සීලානං පරිපන්ථෝ. ඉන්ද්‍රියාසංවරෝ බ්‍රහ්මචරියස්ස පරිපන්ථෝ. විසංවාදනා මිත්තානං පරිපන්ථෝ. අසජ්ඣායකිරියා බාහුසච්චස්ස පරිපන්ථෝ. අසුස්සුසා අපරිපුච්ඡා පඤ්ඤාය පරිපන්ථෝ. අනනුයෝගෝ අපච්චවෙක්ඛනා ධම්මානං පරිපන්ථෝ. මිච්ඡාපටිපත්ති සග්ගානං පරිපන්ථෝ.’ (අංගුත්තර නිකාය - දසක නිපාතය)

මෙහි තේරුම: මෙහි කී ප්‍රිය මනාප කරුණු දහයට බාධක වූ කරුණු දසයකි. අලස බව, උත්සාහවන්තව නැගී නොසිටීම ධනවත් බවට බාධකයකි, ඇඳුම් පැළඳුම් නොදැරීම ශරීර ශෝභාවට බාධකයකි, කයට සුදුසු සාත්තුව නැතිකම සෞඛ්‍යයට බාධකයකි, පාපමිත්‍රයන් ඇසුරු කිරීම සිල්වත් බවට බාධකයකි, ඉන්ද්‍රිය සංවරය නැති බව බඹසරට බාධකයකි, රැවටීම මිත්‍රත්වයට බාධකයකි, උගත් දෑ නැවත නැවත නොහැදෑරීම සජ්ඣායනා නොකිරීම උගත්කමට බාධකයකි, ගුරුන්ගේ බසට කන්නොදීම සැක තැන් නැවත අසා පිරිසිඳ නොගැනීම නුවණට බාධකයකි, නැවත නැවත එහි නොයෙදීම නුවණින් සලකා නොබැලීම ධමර් ලාභයට බාධකයකි, නරක පැවැත්ම ස්වගෙර්ත්පත්තියට බාධකයකි, දෙලොව දියුණුව කැමැත්තහු විසින් මේ බාධක දසයෙන් වෙන් විය යුතුය. තවද බුදුරජාණන් වහන්සේ මෙසේත් වදාළ සේක:

‘දසහි භික්ඛවේ, වඩ්ඪීහි වඩ්ඪමානෝ අරියසාවකෝ අරියාය වඩ්ඪියා වඩ්ඪති, සාරාදායි ච හෝති වරාදායි කායස්ස. කතමේහි දසහි? ඛෙත්තවත්ථුහි වඩ්ඪති. ධනධඤ්ඤේන වඩ්ඪති. පුත්තදාරෙහි වඩ්ඪති. දාසකම්මකර පෝරිසෙහි වඩ්ඪති. චතුප්පදේහි වඩ්ඪති. සද්ධාය වඩ්ඪති. සීලේන වඩ්ඪති. සුතේන වඩ්ඪති. චාගෙන වඩ්ඪති. පඤ්ඤාය වඩ්ඪති.’ (අංගුත්ත නිකාය - දසක නිපාතය)

මෙහි තේරුම: කරුණු දසයකින් වැඩෙන ආයර් ගිහි ශ්‍රාවකයා ආයර් වධර්නයෙන් වැඩේ. අත්‍යාවශ්‍ය වූ ම සාරධමර්ය ලැබ ගනී. කවර දහයකින් ද යත්: හෙතෙම කෙත් වතු ආදී වස්තු ලැබීමෙන් වැඩේ. ධනධාන්‍ය දෙකෙන් වැඩේ. අඹු-දරු සම්පත්තියෙන් ද වැඩේ. එසේම ශ්‍රද්ධාවෙන් ද සීලයෙන් ද උගත්කමින්ද ත්‍යාගවත් බැවින්ද ප්‍රඥායෙන්ද වැඩේ. බුදුරජාණන් වහන්සේ වදාරා තිබෙන මෙබඳු දෙසුම් වලින් ගිහි ශ්‍රාවකයන් ධනධාන්‍ය ආදී සම්පත්තියෙන් වැඩීම අපේක්ෂා කළ බව ඉතා පැහැදිලිව ඔප්පු වේ.

(1990 ඔක්තෝබර් මස 2 දින අමෙරිකාවේ ලොස් ඇන්ජලීස් නුවර ධමර්විජය විහාරයේදී බලන්ගොඩ මහනාහිමියන් විසින් කරන ලද දේශනයකි - මෙත් සිලිල)

(උපුටා ගැනීම: මතුගම මහින්ද විජේතිලකයන්ගේ ‘බලන්ගොඩ හාමුදුරුවෝ’ පොතිනි)

[ඉහත ලිපියට පූවර්කාවක් ලියන මහින්ද විජේතිලකයන් මෙසේ සඳහන් කරයි: ‘ගිහි ජීවිතය සාථර්ක කර ගැනීම සඳහා බුදුරජාණන් වහන්සේ දේශනා කොට ඇති ධමර්යන් පිළිබඳ දේශනා කිරීමට බොහෝ ථෙරවාදී භික්ෂූන් වහන්සේලා උනන්දුවක් නැත. ඇත්ත වශයෙන් ම මෙය ශ්‍රී ලංකාවේ බෞද්ධයින්ගේ ආථර්කයට ද යම් තරමකින් බලපා ඇතැයි කීවොත් වැරදි නැත. ජපානය වැනි මහායාන බුද්ධ ධමර්ය පිහිටා ඇති රටවල බෞද්ධයින්ගේ ආථර්ක හා සමාජ දියුණුව දෙස බලන විට එය තවදුරටත් ඉස්මතු වී පෙනේ.’

බුදුන් වහන්සේ දේශනා කොට ඇති සූත්‍ර ධර්ම කියවන විට පෙනී යන කරුණක් නම් උන්වහන්සේ ගිහියන්ට ධර්මය දේශනා කරන විට බොහෝ විට දේශනා කර ඇත්තේ සතුටින් ජීවිතය ගත කරන ආකාරය, උත්සාහයෙන් වීයර්යෙන් මිල මුදල් උපයා ගැනීමේ වැදගත්කම, පවුල් ජීවිතය සාථර්කව ගත කිරීමට කළ යුතු දේ, තමාගෙන් පවුලට සමාජයට ඉටු විය යුතු යුතුකම් හා අවසන මරණින් මතු ස්වගර්යට යාමට කළ යුතු දේ පිළිබඳවත්ය. පැවිද්දන්ට බණ කියන විට උන්වහන්සේ වදාළේ කාමයන්ගේ නිස්සාරත්වය, නොඇලීම, අනිත්‍ය දුක්ඛ අනාත්ම ධමර්තා ආදියයි. මෙම වෙනස සූත්‍රවල ඉතා පැහැදිලිව දැකගත හැකිය. නමුත් අද බොහෝ භික්ෂූන් වහන්සේලා මේ දෙක පටලවගෙන ගිහියන්ට කාමයන්ගේ නිස්සාරත්වය හා නොඇලීම හා අතහැරීම ගැන බණ කියමින් තමුන් කාමයන්ගේ ගැලී සුඛෝපභෝගී ජීවිත ගත කරමින් පුළුවන් තරම් ගොඩ ගසා ගනිමින් ගොඩනැගිලි ඉදිකරමින් කල්ගෙවති. ගිහි පැවිදි කායර්භාරය උඩුයටිකුරු වී ඇත.

බෞද්ධ ගිහි ජනතාව හැකි තරම් උත්සාහ ගත යුත්තේ ආථර්ික වශයෙන් දියුණු වීමටයි. තමුන්ගේම කියා ඉඩමක සුවපහසු ගෙයක් ඉදිකොට, යානවාහන මිලදීගෙන, දරුවන්ටත් ගුණ ධමර් කියා දෙමින් ඔවුන්ට ඉගෙන ගැනීමට වුවමනා සියලු පහසුකම් ලබාදීමට උත්සුක විය යුතුය. මේ සියලු දෙයටම මුදල් අවශ්‍යය. එම නිසා කුසීත නොවී පුළුවන් තරම් දියුණු වීමට බෞද්ධයන් කටයුතු කළ යුතුය. මේ සම්බන්ධව බුදු දහමින් පනවන්නේ එකම එක සීමා කිරීමක් පමණි. එනම් ධනය ඉපැයීම දැහැමින් කළ යුතුය යන්න පමණි. දුප්පත් වී සිටින්නට යැයි බුදුන් වහන්සේ කිසිම දිනෙක කිසිම ගිහියකුට දේශනා කර නැත. (දුප්පත් විය යුත්තේ, අල්පේච්ඡ විය යුත්තේ, ලද දෙයින් සතුටු විය යුත්තේ භික්ෂූන් වහන්සේලාය). තම අඹු දරුවන්ට සැප සම්පත් ලබාදිය හැක්කේද, වයසට ගිය දෙමාපියන්ට හොඳින් සැළකීමට හා ඔවුන්ට අවශ්‍ය සියලු වෛද්‍ය පහසුකම් ලබාදිය හැක්කේ ද, දරුවන් හදිසියේ අසනීප වුවහොත් පිටරටක ගෙන ගොස් හෝ අවශ්‍ය ප්‍රතිකාර ලබාදිය හැක්කේ ද, තමාගේ පරලොව යහපතට හේතුවන දානමානාදී පින්කම් කළ හැකි වන්නේ ද තමුන්ට මිල මුදල් තිබුනොත් පමණි. මේ නිසා සියලුම බෞද්ධයෝ තමන්ගේ රැකී රක්ෂා වලත්, වෙළහෙළඳාම් වලත් උනන්දුවෙන් උත්සාහයෙන් යෙදී මෙලොව යහපතත්, පරලොව යහපතත් ළඟා කර ගනිත්වා! -වනරතන ඛේමක හිමි]